ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

**63 | S | I, II**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2023 (2024)
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2023 (2024)
General Certificate of Education (Ord. Level) Examination, 2023 (2024)

| | | |
|---|---|---|
| ව්‍යවසායකත්ව අධ්‍යයනය | I, II | පැය තුනයි |
| முயற்சியாண்மைக் கற்கை | I, II | மூன்று மணித்தியாலம் |
| Entrepreneurship Studies | I, II | Three hours |

අමතර කියවීම් කාලය - මිනිත්තු 10 යි
மேலதிக வாசிப்பு நேரம் - 10 நிமிடங்கள்
Additional Reading Time - 10 minutes

අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේදී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.

## ව්‍යවසායකත්ව අධ්‍යයනය I

උපදෙස්:

* **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.
* අංක **1** සිට **40** තෙක් ප්‍රශ්නවල, දී ඇති (1), (2), (3), (4) යන පිළිතුරුවලින් **නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ** පිළිතුර තෝරා ගන්න.
* **ඔබට සැපයෙන පිළිතුරු පත්‍රයේ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති කව අතුරෙන් ඔබ තෝරාගත් පිළිතුරෙහි අංකයට සැසඳෙන කවය තුළ (X) ලකුණ යොදන්න.**
* එම පිළිතුරු පත්‍රයේ පිටුපස දී ඇති අනෙක් උපදෙස් ද සැලකිල්ලෙන් කියවා, ඒවා ද පිළිපදින්න.

**1.** සුපුන් සිල්වා කොවිඩ් වසංගත සමයේ සනීපාරක්ෂක හා විෂබීජහරණ දියර අලෙවිකරන ව්‍යාපාරයක් ආරම්භ කර එය අතිසාර්ථකව පුළුල් කරන ලදී. මේ සඳහා සුවිශේෂී වූ ව්‍යවසායකත්ව ගති ලක්ෂණය වන්නේ
(1) සුබවාදී වීම ය.
(2) පරිසර සංවේදී බව ය.
(3) නොපසුබස්නා උත්සාහය ය.
(4) ස්වාධීනත්වය ය.

**2.** ව්‍යවසායකත්වය යනු
(1) සහජයෙන්ම උරුම වන දෙයකි.
(2) අධ්‍යාපනය තුළින් ම පමණක් වර්ධනය කර ගන්නා දෙයකි.
(3) තාර්කික මිනිස් චින්තනය හා බැඳුනු දෙයකි.
(4) අත්දැකීම් තුළින් පමණක් ලබා ගන්නා දෙයකි.

**3.** සිනමාලෝලීන්හට අන්තර්ජාලය හරහා දායකත්ව මුදල් ගෙවා සිනමාපට නැරඹීම සඳහා අවස්ථාව සලසා දීම සැලකිය හැක්කේ
(1) නව සොයා ගැනීමක් ලෙස ය.
(2) අනුකරණය කිරීමක් ලෙස ය.
(3) දිගුවක් ලෙස ය.
(4) සංකලනයක් ලෙස ය.

**4.** නවෝත්පාදනය සම්බන්ධයෙන් නිවැරදි ප්‍රකාශය තෝරන්න.
(1) නවෝත්පාදනය අපේක්ෂිත සිදුවීමකි.
(2) නවෝත්පාදනයේ ආරම්භය නිර්මාණශීලී අදහසකි.
(3) නවෝත්පාදනය පුද්ගල ආකල්ප වෙනස්වීම මත පදනම් නොවූවකි.
(4) නවෝත්පාදනය පාරිභෝගික අවශ්‍යතා වෙනස්වීම මත පදනම් නොවූවකි.

**5.** සේවාවක ලක්ෂණයක් දැක්වෙන ප්‍රකාශය තෝරන්න.
(1) අවස්ථානුකූලව සේවාවක ක්‍රියාවලිය වෙනස් නොවේ.
(2) සැමවිටම සේවාවක සමජාතීය බව ආරක්ෂා කළ හැකි වේ.
(3) සේවාවක් සැපයුම්කරුවන්ගෙන් වෙන්කළ හැකි ක්‍රියාවලියකි.
(4) බොහෝවිට පාරිභෝගිකයා නිෂ්පාදන ක්‍රියාවලියේ කොටසකි.

**6.** මාගම්පුර කාන්තා සංවිධානය රටකජු වගාව හම්බන්තොට දිස්ත්‍රික්කය තුළ ප්‍රචලිත කරමින්, කාන්තා රැකියා වියුක්තිය පිටුදැකීමට පිටුවහලක් ලබා දෙයි. මෙම මාගම්පුර කාන්තා සංවිධානය හැඳින්විය හැක්කේ
(1) අභ්‍යන්තරික ව්‍යවසායකයකු ලෙස ය.
(2) ආයතනික ව්‍යවසායකයකු ලෙස ය.
(3) සමාජයීය ව්‍යවසායකයකු ලෙස ය.
(4) ව්‍යාපාර ව්‍යවසායකයකු ලෙස ය.

**7.** ව්‍යවසායකයෙකු විසින් තම ආයතනයේ සේවකයින්ගේ සෘණාත්මක ආකල්ප වෙනස් කිරීම සඳහා ගනු ලබන ක්‍රියාමාර්ග අයත් වන්නේ
(1) අයිතිකරුගේ භූමිකාවට ය.
(2) නායකයාගේ භූමිකාවට ය.
(3) කළමනාකරුගේ භූමිකාවට ය.
(4) ආයෝජකයාගේ භූමිකාවට ය.

[දෙවැනි පිටුව බලන්න

8. ව්‍යාපාර පරිසරය විස්තර කෙරෙන පිළිතුර තෝරන්න.
   (1) ව්‍යාපාරවල ක්‍රියාකාරිත්වයට ව්‍යාපාර අභ්‍යන්තරයෙන් ධනාත්මක බලපෑම් ඇති කරන සාධක හා බලවේග සියල්ලම ය.
   (2) ව්‍යාපාරවල ක්‍රියාකාරිත්වයට ව්‍යාපාර අභ්‍යන්තරයෙන් ඍණාත්මක බලපෑම් ඇති කරන සාධක හා බලවේග සියල්ලම ය.
   (3) ව්‍යාපාරවල ක්‍රියාකාරිත්වයට ව්‍යාපාර අභ්‍යන්තර මෙන්ම බාහිරව ධනාත්මකව බලපෑම් ඇති කරන සාධක හා බලවේග සියල්ලම ය.
   (4) ව්‍යාපාරවල ක්‍රියාකාරිත්වයට ව්‍යාපාර අභ්‍යන්තර මෙන්ම බාහිරව ධනාත්මක හා ඍණාත්මක බලපෑම් ඇති කරන සාධක හා බලවේග සියල්ලම ය.

9. උත්සව සමයේ දී බිත්තර ආනයනය සීමා කිරීම, දේශීය බිත්තර සැපයුම්කරුවන්ට බලපෑම් කරනු ලබන්නේ
   (1) ශක්තියක් ලෙස ය.
   (2) අවස්ථාවක් ලෙස ය.
   (3) තර්ජනයක් ලෙස ය.
   (4) දුර්වලතාවයක් ලෙස ය.

10. ව්‍යාපාරයක අභ්‍යන්තර පරිසර සාධක පමණක් ඇතුළත් පිළිතුර තෝරන්න.
   (1) මෛතික පරිසරය, කළමනාකරුවන්, සේවකයන්
   (2) අයිතිකරුවන්, සංස්කෘතික පරිසරය, සේවකයන්
   (3) කළමනාකරුවන්, පාරිභෝගිකයින්, අයිතිකරුවන්
   (4) අයිතිකරුවන්, කළමනාකරුවන්, සේවකයන්

11. ව්‍යාපාරයක බාහිර පරිසරය තුළ ඇති සැබෑ වෙනස්කම් අවබෝධ කර ගැනීම තුළින් ව්‍යවසායකයකුට ලැබෙන ප්‍රයෝජනයක් වන්නේ
   (1) ව්‍යාපාරය සතු ශක්තීන් හඳුනා ගැනීම ය.
   (2) ව්‍යාපාරය මුහුණ දෙන දුර්වලතා හඳුනා ගැනීම ය.
   (3) ව්‍යාපාරයට පවතින විවිධ ව්‍යාපාර අවස්ථා හඳුනා ගැනීම ය.
   (4) තමාගේ තීරණ ගැනීමේ හැකියාව වර්ධනය වීම ය.

12. වෙළෙඳපොළෙහි පවතින හිදැස හොඳින් අධ්‍යයනය කර ආරම්භ කරනු ලැබූ ව්‍යාපාරයක් වන්නේ
   (1) දියවැඩියා රෝගීන් සඳහා විශේෂිත ආහාර වර්ගයක් නිපදවීම ය.
   (2) කුඩා ළමයින් සඳහා නව මෝස්තර සහිත ඇඳුම් නිර්මාණය කිරීම ය.
   (3) පලතුරු යුෂ භාවිත කර සිසිල් බීම පැකට් සකස් කිරීම ය.
   (4) දේශීය ආහාර රසවත් කිරීමට ගත හැකි කුනපහ කුඩු පැකට් සකස් කිරීම ය.

13. වර්තමාන ශ්‍රී ලංකාවේ අන්තර්ජාලය ඔස්සේ පාඨමාලා හැදෑරීම බහුල වශයෙන් දක්නට හැකිය. මෙම නවෝත්පාදනයට පදනම් වූ ප්‍රධාන මූලාශ්‍රය වන්නේ
   (1) වෙළෙඳපොළ වෙනස්වීම් ය.
   (2) ක්‍රියාවලි අවශ්‍යතා ය.
   (3) ප්‍රජා පරිසරය හා ජීවන රටාවේ සිදු වූ වෙනස්වීම් ය.
   (4) සංජානනය හෙවත් තේරුම් ගන්නා ආකාරය වෙනස්වීම ය.

14. ස්වභාවික පරිසරය තුළින් ලබා ගන්නා සම්පත් වෙනසකට ලක් නොකර, ඒ ආකාරයෙන් ම ප්‍රයෝජනයට ගැනීම අයත් වන්නේ
   (1) ද්විතීයික අංශයට ය.
   (2) නිෂ්පාදන අංශයට ය.
   (3) තෘතීයික අංශයට ය.
   (4) ප්‍රාථමික අංශයට ය.

15. සමන් පෞද්ගලික වෘත්තීය අධ්‍යාපන ආයතනයක හිමිකරුවෙකි. ඔහු පරිගණක තාක්ෂණය සම්බන්ධ එක් අවුරුදු පාඨමාලාවක් හඳුන්වාදීමට අපේක්ෂා කරයි. මෙය
   (1) පවතින සේවාවක් පවතින වෙළෙඳපොළට ඉදිරිපත් කිරීමකි.
   (2) පවතින සේවාවක් නව වෙළෙඳපොළට ඉදිරිපත් කිරීමකි.
   (3) නව සේවාවක් පවතින වෙළෙඳපොළට ඉදිරිපත් කිරීමකි.
   (4) නව සේවාවක් නව වෙළෙඳපොළට ඉදිරිපත් කිරීමකි.

16. ශ්‍රී ලංකා ආර්ථිකයේ ද්විතීයික අංශයට අයත් ව්‍යාපාරයක් වන්නේ
   (1) ප්‍රවාහනය ය.
   (2) ඉදිකිරීම් ය.
   (3) මසුන් ඇල්លීම ය.
   (4) ගොවිතැන් කිරීම ය.

17. එක්තරා බැංකුවක් ශිෂ්‍යයින් සඳහා විශේෂිත බැංකු ගිණුමක් හඳුන්වා දුන් පසු, අනෙක් බැංකු විසින් ද එය අනුකරණය කර ඇත. මෙය
(1) ජනමාධ්‍ය මගින් ව්‍යාපාර අදහස් මතුවීමක් ය.
(2) සැපයුම්කරුවන් ඇසුරින් ව්‍යාපාර අදහස් මතුවීමක් ය.
(3) වෙළෙඳපොළ සමීක්ෂණය තුළින් ව්‍යාපාර අදහස් මතුවීමක් ය.
(4) තරගකාරීත්වය අධ්‍යයනය තුළින් ව්‍යාපාර අදහස් මතුවීමක් ය.

18. සිංහරාජ වනාන්තරය කේන්ද්‍රකොටගෙන සමන් සංචාරක නිකේතනයක් ආරම්භ කිරීමට අදහස් කරයි. ඔහුගේ මෙම ව්‍යාපාර අදහස ඇතිවීම සඳහා බලපෑම් ඇති **නොකරන** ලද්දේ
(1) ස්වාභාවික සම්පත් ය.
(2) ස්වාභාවික වනාන්තර ය.
(3) සත්ත්ව සම්පත ය.
(4) සංස්කෘතික සම්පත් ය.

19. ඉහළ වගකීම, සීමිත කාලය සහ අවිනිශ්චිත අනාගතය වැනි සාධක ව්‍යවසායකත්වයේ දී සලකනු ලබන්නේ
(1) පාරිසරික සාධක ලෙස ය.
(2) අභියෝගාත්මක සාධක ලෙස ය.
(3) නිෂ්පාදන සාධක ලෙස ය.
(4) අභ්‍යන්තර සාධක ලෙස ය.

20. ව්‍යාපාරයක ආසන්න පරිසරයේ බලවේගයක් වන්නේ
(1) අයිතිකරුවන් ය.
(2) තරගකරුවන් ය.
(3) කළමනාකරුවන් ය.
(4) විදේශීය ආයෝජකයන් ය.

21. ව්‍යාපාරික අදහසක් ජනනය වීමට ව්‍යවසායකයකු තුළ තිබිය යුතු මූලික අවශ්‍යතාව කුමක් ද?
(1) උනන්දුව හා කැපවීම
(2) හැකියාව හා කැමැත්ත
(3) කැමැත්ත හා නිර්මාණශීලීත්වය
(4) නිර්මාණශීලීත්වය හා නවෝත්පාදනය

22. ව්‍යවසායකයකුට විධිමත් ක්‍රියාපටිපාටියක් අනුගමනය කර, තම ව්‍යාපාරය සඳහා හොඳ සේවකයකු බඳවා ගැනීමට ඇති හැකියාව සලකනු ලබන්නේ
(1) මානව කුසලතාවයක් ලෙස ය.
(2) සංකල්පනාත්මක කුසලතාවයක් ලෙස ය.
(3) උපදේශන කුසලතාවයක් ලෙස ය.
(4) තාක්ෂණික කුසලතාවයක් ලෙස ය.

23. අත් පා හිරිවැටීම පාලනය කරනු ලබන සරල සම්භාහන උපකරණයක් නිපදවීමට කමල් අදහස් කරයි. ඒ සඳහා වඩාත් අවශ්‍ය ව්‍යවසායකත්ව ගති ලක්ෂණය වන්නේ
(1) නිර්මාණශීලීත්ව ය.
(2) කැපවීම ය.
(3) නායකත්වය ය.
(4) දැක්ම ය.

24. ව්‍යවසායකත්ව සංස්කෘතියක් තුළින් ඕනෑම රටකට ඉහළ ආර්ථික වර්ධනයක් ලබා ගත හැකිය. ආර්ථික වර්ධනයක් ඇති වීමට නම් එම ආර්ථිකය තුළ
(1) සේවක සුබසාධනය ඉහළ මට්ටමක පවත්වා ගත යුතු ය.
(2) නිෂ්පාදනය කරන්නා වූ භාණ්ඩ හා සේවා ප්‍රමාණය වර්ධනය කළ යුතු ය.
(3) සියලු ම මානව හා මානව නොවන සම්පත් භාවිත කළ යුතු ය.
(4) සියලු කටයුතු රටේ පවතින ආකල්ප, විශ්වාස හා චාරිත්‍ර වාරිත්‍රවලට අනුව කළ යුතු ය.

25. ව්‍යවසායකයෙකු ව්‍යාපාරයක් පවත්වාගෙන යාමේ දී ඔහු ආචාර ධර්ම පද්ධතියකට අනුකූලව කටයුතු කළ යුතු ය. මෙහි දී ප්‍රමුඛතාවය දිය යුතු වන්නේ
(1) සැපයුම්කරුවන්ට ය.
(2) පාරිභෝගිකයන්ට ය.
(3) තරගකරුවන්ට ය.
(4) සේවකයින්ට ය.

26. ව්‍යවසායකත්ව සංස්කෘතියක වෙසෙන පුද්ගලයෙකුගේ ගති ලක්ෂණයක් **නොවන්නේ** කුමක් ද?
(1) නිර්මාණශීලී හැකියාව
(2) අවදානම් දැරීමේ හැකියාව
(3) සුභවාදීව සිතීම
(4) ක්ෂණික ප්‍රතිඵල අපේක්ෂා කිරීම

27. ඉහළ අධ්‍යාපනයක් ලැබීම තුළින් කාන්තාවන් ව්‍යාපාර ආරම්භ කිරීමට පෙළඹේ. මෙයට මූලික හේතුව වන්නේ
(1) මෘදු ගුණයයි.
(2) කරුණාවන්ත බවයි.
(3) ස්වාධීන බවයි.
(4) කැපවීමයි.

28. සහන් තම ව්‍යාපාරය සඳහා සීමිත සම්පත් කාර්යක්ෂමව භාවිත කරයි. සහන් මේ තුළින් ඉටුකරනු ලබන්නේ
(1) ආර්ථික වගකීමකි.
(2) නීතිමය වගකීමකි.
(3) සදාචාරාත්මක වගකීමකි.
(4) පරාර්ථකාමී වගකීමකි.

29. ආකර්ශනීය ආයෝජන අදහසක මූලික ලක්ෂණයක් වන්නේ
(1) අවදානමට ප්‍රමාණවත් ප්‍රතිලාභයක් තිබීම ය.
(2) ඉල්ලුමට ප්‍රමාණවත් සැපයුමක් තිබීම ය.
(3) ප්‍රමාණවත් ගනුදෙනුකරුවන් පිරිසක් සිටීම ය.
(4) ප්‍රමාණවත් තරගකරුවන් පිරිසක් සිටීම ය.

[හතරවැනි පිටුව බලන්න

30. ශ්‍රී ලංකාවේ පවතින සෑම පොදු අංශයේ ව්‍යාපාරයක් ම
(1) ලාභ ලබයි.
(2) රජය සතුයි.
(3) සේවා පමණක් සපයයි.
(4) සුභසාධන කටයුතු පමණක් කරයි.

31. ඒකල ස්වාමි ව්‍යාපාරයක් සඳහා 'ව්‍යාපාර නාමය ලියාපදිංචි කිරීමේ සහතිකය' ලබා දෙන්නේ
(1) දිස්ත්‍රික් ලේකම් විසින් ය.
(2) ප්‍රාදේශීය ලේකම් විසින් ය.
(3) නගර සභාවේ නගරාධිපති විසින් ය.
(4) ප්‍රාදේශීය සභාවේ සභාපති විසින් ය.

32. නාරද තම ව්‍යාපාරය සඳහා තමා විසින් ම මුදල් යෙදවීමටත්, වගකීම තම ආයෝජන මුදලට පමණක් සීමා කිරීමටත්, ව්‍යාපාර කටයුතු සඳහා නීතිය ඉදිරියේ තම පුද්ගලික නමින් පෙනී නොසිටීමටත් අපේක්ෂා කරයි. ඔහුගේ අපේක්ෂා ඉටුකර ගැනීම සඳහා වඩාත් යෝග්‍ය ව්‍යාපාර සංවිධාන වර්ගය කුමක් ද?
(1) ඒකල ස්වාමි ව්‍යාපාරය
(2) හවුල් ව්‍යාපාරය
(3) සීමාසහිත පෞද්ගලික සමාගම
(4) සීමාසහිත පොදු සමාගම

33. ව්‍යාපාරයක් සඳහා අලෙවි සැලැස්මක් සකස් කිරීමේ පළමු පියවර වන්නේ
(1) වෙළෙඳපොළ විශ්ලේෂණය කිරීමයි.
(2) විකුණුම් ආදායම් පුරෝකථනය කිරීමයි.
(3) අපේක්ෂිත ඒකක විකුණුම් මිල තීරණය කිරීමයි.
(4) වෙළෙඳපොළට ඉදිරිපත් කිරීමට අපේක්ෂිත භාණ්ඩ හෝ සේවා ප්‍රමාණය ගණනය කිරීමයි.

34. නිෂ්පාදන ක්‍රියාවලියක දී යෙදවුමකට හා නිමැවුමකට නිදසුන් පිළිවෙලින් දැක්වෙන පිළිතුර තෝරන්න.
(1) තේ - සීනි
(2) ලී - මේසය
(3) ගඩොල් - මැටි
(4) උළු - සිමෙන්ති

35. ව්‍යාපාරයක නිෂ්පාදන සැලැස්මෙහි ඇතුළත් ස්ථාවර වත්කමක් වන්නේ
(1) භාණ්ඩ බෙදා හැරීමට භාවිත කරන වෑන් රථයයි.
(2) වෙළෙඳසැලෙහි භාවිත කරන ලී බඩුයි.
(3) කර්මාන්ත ශාලාවෙහි භාවිත කරන යන්ත්‍රෝපකරණයි.
(4) නිෂ්පාදනය සඳහා භාවිත කරන අමුද්‍රව්‍ය තොගයයි.

36. අපේක්ෂිත ව්‍යාපාරයක ඇස්තමේන්තු ගත රක්ෂණ ගාස්තු, දුරකථන ගාස්තු හා ලිපිද්‍රව්‍ය වියදම් ඇතුළත් කරනු ලබන්නේ
(1) නිෂ්පාදන සැලැස්මෙහි ය.
(2) අලෙවි සැලැස්මෙහි ය.
(3) මූල්‍ය සැලැස්මෙහි ය.
(4) පරිපාලන සැලැස්මෙහි ය.

37. සහන්ගේ යෝජිත භාණ්ඩ මිලදී ගෙන බෙදා හැරීමේ ව්‍යාපාරයේ ගොඩනැගිල්ලට විදුලිය ලබා ගැනීම සඳහා වූ වියදම් සලකනු ලබන්නේ
(1) පරිපාලන වියදමක් ලෙස ය.
(2) මූල්‍ය වියදමක් ලෙස ය.
(3) බෙදාහැරීමේ වියදමක් ලෙස ය.
(4) ආරම්භ කිරීමට පෙර වියදමක් ලෙස ය.

38. නව නිෂ්පාදිතයක් වෙළෙඳපොළට හඳුන්වාදීමට අපේක්ෂා කරන ව්‍යවසායකයෙකුට අරමුදල් සම්පාදනය කරන්නෙකු විසින් විශේෂයෙන් අවධානය යොමු කළ යුත්තේ එම ව්‍යාපාරයේ
(1) අලෙවි සැලැස්මට ය.
(2) නිෂ්පාදන සැලැස්මට ය.
(3) පරිපාලන සැලැස්මට ය.
(4) මූල්‍ය සැලැස්මට ය.

39. ව්‍යාපාරයක මූල්‍ය සැලැස්මෙන් අනාවරණය **නොවන** තොරතුරක් වන්නේ
(1) මූල්‍ය කළමනාකරුගේ කාර්යභාරය ය.
(2) කාරක ප්‍රාග්ධනය ය.
(3) මුළු ස්ථාවර වත්කම් ය.
(4) අපේක්ෂිත ව්‍යාපාරික ප්‍රතිඵලය ය.

40. මල්කි මල් පෝච්චි සකස්කර ඒවා විකිණීමේ ව්‍යාපාරයක් ආරම්භ කිරීමට අපේක්ෂා කරයි. පළමු මාසය සඳහා වූ ඇස්තමේන්තුගත පිරිවැය පහත දැක්වේ.

| | රු. |
|---|---|
| අමුද්‍රව්‍ය පිරිවැය | 38 000 |
| ශ්‍රම පිරිවැය | 42 000 |
| වෙනත් නිෂ්පාදන වියදම් | 7 000 |
| අලෙවි කිරීමේ වියදම් | 8 000 |
| ව්‍යාපාරය ලියාපදිංචි කිරීමේ වියදම | 5 000 |

මල්කිගේ ව්‍යාපාරයේ පළමු මාසය සඳහා අපේක්ෂිත මුළු නිෂ්පාදන පිරිවැය වන්නේ
(1) රු. 80 000 කි.
(2) රු. 87 000 කි.
(3) රු. 95 000 කි.
(4) රු. 100 000 කි.

[පස්වැනි පිටුව බලන්න

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

**63 S I, II**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2023(2024)
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2023(2024)
General Certificate of Education (Ord. Level) Examination, 2023(2024)

| | |
|---|---|
| ව්‍යවසායකත්ව අධ්‍යයනය | I, II |
| முயற்சியாண்மைக் கற்கை | I, II |
| Entrepreneurship Studies | I, II |

## ව්‍යවසායකත්ව අධ්‍යයනය II

※ **පළමුවන** ප්‍රශ්නය ඇතුළුව ප්‍රශ්න **පහකට** පමණක් පිළිතුරු සපයන්න.

1. පහත දී ඇති සිද්ධිය හොඳින් කියවා (i) සිට (x) තෙක් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

පාසල් හැරයාමෙන් පසු අශානි කාන්තා අත්බෑග් සැකසීමේ පාඨමාලාවක් හදාරන ලද්දේ ඇයගේ ම ව්‍යාපාරයක් ආරම්භ කිරීමේ අපේක්ෂාවෙනි. කර්මාන්තශාලාවක සේවය කළ ඇගේ මවගේ අවිවේකී බව නිසා ම ඇය වෙනත් කෙනෙකු යටතේ රැකියාවක් නොකිරීමට තීරණය කර සිටියා ය. තමා සමග සේවය කරන කාන්තාවන් නිතරම නවතම විලාසිතා අනුව ඔවුන්ගේ අත් බෑගය වෙනස් කරන බව අශානිගේ මව ඇය සමග පවසා ඇත.

අශානි කාන්තා අත්බෑග් සැකසීමේ ව්‍යාපාරයක් ආරම්භ කර, එය දිනෙක ජාත්‍යන්තර වෙළෙඳපොළ දක්වා ව්‍යාප්ත කිරීමටත් අදිටන් කළා ය. රජය විසින් සුළු පරිමාණ ව්‍යවසායකයින් දිරි ගැන්වීම සඳහා හඳුන්වා දී ඇති ණය යෝජනා ක්‍රමය යටතේ රු. 500 000 ක බැංකු ණයක් 6% වාර්ෂික පොලී අනුපාතයක් යටතේ ලබා ගැනීමටත් තම දෙමව්පියන්ගෙන් ලැබූ රු. 200 000ක් ව්‍යාපාරය සඳහා යෙදීමටත් ඇය බලාපොරොත්තු වේ. අශානි තම යෝජිත ව්‍යාපාරය සඳහා පහත සඳහන් දෑ කිරීමට ද අපේක්ෂා කරයි.

- රු. 75 000 ක් බැගින් වූ මැෂින් දෙකක් මිලදී ගැනීම
- මාසිකව රු. 25 000 ක් වූ ගොඩනැගිල්ලක් කුලී පදනම මත ලබා ගැනීම
- බෑග් සැකසීම සඳහා සේවකයින් දෙදෙනෙකු බඳවා ගැනීම හා එක් අයෙකුට රු. 40 000 බැගින් මාසික වේතනයක් ලබාදීම
- රු. 100 000 ක ලැප්ටොප් පරිගණකයක් මිලදී ගැනීම
- සිය නිෂ්පාදිත අත්පත්‍රිකා හා සමාජ මාධ්‍ය භාවිත කර ප්‍රචාරණය කිරීම හා අන්තර්ජාලය ඔස්සේ ඇණවුම් භාරගෙන විකිණීම
- තොරතුරු තාක්ෂණය පිළිබඳ හොඳ දැනුමක් ඇති තම සොයුරු භානුකගේ සේවය ලබාගෙන, ඔහුට රු. 30 000 ක මාසික වේතනයක් ගෙවීම

(i) අශානිට මෙම ව්‍යාපාරික අදහස ඇතිවීමට හේතු වූ කරුණු **දෙකක්** ලියන්න.

(ii) අශානිට පහත සඳහන් ව්‍යවසායකත්ව ගති ලක්ෂණ පවතින බව සිද්ධිය ඇසුරින් සනාථ කරන්න.

(අ) ස්වාධීනත්වය (ආ) අනාගත දැක්ම

(iii) අශානිගේ යෝජිත ව්‍යාපාරයේ පවතින ශක්තියක් හා අවස්ථාවක් සඳහන් කරන්න.

(iv) අශානි තම නිෂ්පාදිත වෙළෙඳපොළට හඳුන්වා දීමේදී භාවිත කිරීමට අපේක්ෂිත ප්‍රවර්ධන ක්‍රම **දෙකක්** සඳහන් කරන්න.

(v) අශානි තම ව්‍යාපාරය තුළින් ශ්‍රී ලංකාවේ ආර්ථික සංවර්ධනයට දායක වන ආකාර **දෙකක්** ලියන්න.

- අශානිගේ ව්‍යාපාර සැලසුමෙන් ලබාගත් තොරතුරු කිහිපයක් පහත දී ඇත.

| | රු. |
|---|---|
| **අපේක්ෂිත වියදම්** | |
| ව්‍යාපාර සැලසුම සකස් කිරීම සඳහා | 5 000 |
| ව්‍යාපාරය ලියාපදිංචි කිරීමේ ගාස්තු | 2 500 |
| මාසික අමුද්‍රව්‍ය හා අනිකුත් නිෂ්පාදන ද්‍රව්‍ය මිලදී ගැනීම | 125 000 |
| මාසික ප්‍රචාරණ හා විකුණුම් වියදම් | 45 000 |
| **අපේක්ෂිත ආදායම** | |
| මාසික විකුණුම් ආදායම | 450 000 |

**අවශ්‍ය වන්නේ:** අශානිගේ යෝජිත ව්‍යාපාරයේ පහත සඳහන් දෑ දැක්වීම

(vi) අයිතිකරුගේ ආයෝජනය හා මුළු ස්ථාවර වත්කම්

(vii) ආරම්භ කිරීමට පෙර වියදම්

(viii) මුළු මුදල් ගලා ඒම

(ix) අලෙවි වියදම් හා මූල්‍ය වියදම්

(x) පළමු මාසයේ මුළු නිෂ්පාදන පිරිවැය ගණනය කිරීම සඳහා යොදා ගන්නා වියදම් **දෙකක්** වටිනාකම් සහිතව

(ලකුණු 02 × 10 = 20 යි)

/හතරවැනි පිටුව බලන්න.

2. (i) 'ව්‍යවසායකයා' යන්න කෙටියෙන් පැහැදිලි කරන්න.
   (ii) මිනිස් අවශ්‍යතා හා වුවමනා අතර පවතින වෙනස්කම් **දෙකක්** සඳහන් කරන්න.
   (iii) 'අභ්‍යන්තරික ව්‍යවසායකයා' යන්න නිදසුනක් මඟින් පැහැදිලි කරන්න.
   (iv) සුදාර නිෂ්පාදන ව්‍යාපාරයක් ආරම්භ කිරීමට අදහස් කරයි. ඔහුගේ ව්‍යාපාරය සඳහා අවශ්‍ය සම්පත් නිෂ්පාදන සාධක අනුව වර්ග කර, ඒවා සඳහා නිදසුන බැගින් සපයන්න.
   (v) රටක සාම්ප්‍රදායික ක්ෂේත්‍රය තුළින් බිහිවන ව්‍යාපාරික අවස්ථා **දෙකක්** සඳහන් කරන්න.

(ලකුණු 02 × 5 = 10 යි)

3. (i) ව්‍යවසායකයෙකුට හිමිවන සාමාජීය ප්‍රතිලාභ **දෙකක්** සඳහන් කරන්න.
   (ii) ව්‍යවසායකයෙකුට නායකයා සහ කළමනාකරු යන භූමිකාවලදී ඉටුකිරීමට සිදුවන කාර්යය **එක** බැගින් සඳහන් කරන්න.
   (iii) වර්තමානයේ දී ශ්‍රී ලාංකික ව්‍යවසායකයෙකුට සමාජීය සුභසාධනය සඳහා දායක විය හැකි අවස්ථා සඳහා නිදසුන් **දෙකක්** දක්වන්න.
   (iv) රටක දේශීය ආර්ථිකය වර්ධනය කිරීම සඳහා ව්‍යවසායකයෙකුට දායක විය හැකි ආකාර **දෙකක්** ලියන්න.
   (v) රැකියා නියුක්තිකයෙකු වීමට වඩා ව්‍යවසායකයෙකු වීම තුළින් ලැබෙන ප්‍රතිලාභ **දෙකක්** සඳහන් කරන්න.

(ලකුණු 02 × 5 = 10 යි)

4. (i) ව්‍යාපාරයක් ආරම්භ කිරීමට පෙර ව්‍යවසායකයෙකු විසින් ගත යුතු වැදගත් තීරණ **දෙකක්** සඳහන් කරන්න.
   (ii) සමන් රෙදි සෝදන කුඩු වර්ගයක් නිෂ්පාදනය කර බෙදාහැරීමේ ව්‍යාපාරයක් ආරම්භ කිරීමට අදහස් කරයි. මෙහි දී සමන් විසින් සලකා බැලිය යුතු සාධක **දෙකක්** සඳහන් කරන්න.
   (iii) වෙළෙඳපොළට ඉදිරිපත් කරනු ලබන නිෂ්පාදිතයක සාර්ථක අලෙවියක් සඳහා බලපාන කරුණු **දෙකක්** ලියන්න.
   (iv) ව්‍යාපාර **දෙකක්** නම් කර, ඒ සඳහා වඩාත් ම උචිත ස්ථානය සහ පාරිභෝගික කොටස සඳහන් කරන්න.
   (v) ජනමාධ්‍ය මඟින් නව ව්‍යාපාර අදහස් ජනිත වීම සුලභ තත්ත්වයකි. මේ සඳහා නිදසුන් **දෙකක්** දක්වන්න.

(ලකුණු 02 × 5 = 10 යි)

5. (i) තනිවල ස්වාමි ව්‍යාපාරයක හා හවුල් ව්‍යාපාරයක පොදු ලක්ෂණ **දෙකක්** ලියන්න.
   (ii) හවුල් ගිවිසුමකින් විසඳාගත හැකි හවුල් ව්‍යාපාරයක ඇති වන ප්‍රායෝගික ගැටලු **දෙකක්** සඳහන් කරන්න.
   (iii) සීමාසහිත පෞද්ගලික සමාගමකට නාමයක් තෝරා ගැනීමේ දී 2007 අංක 07 දරන සමාගම් පනතට අනුව භාවිත **නොකළ** යුතු නාම **දෙකක්** ලියන්න.
   (iv) සංස්ථාපිත සමාගම්වල දැකිය හැකි මූලික ලක්ෂණ **දෙකක්** ලියන්න.
   (v) තනිවල ස්වාමි ව්‍යාපාරයක හා සීමාසහිත පෞද්ගලික සමාගමක පහත සඳහන් දෑ පිළිබඳ පිළිවෙළින් ලියන්න.
      (අ) අවම සාමාජික සංඛ්‍යාව
      (ආ) අයිතිකරුගේ වගකීම

(ලකුණු 02 × 5 = 10 යි)

6. (i) ශ්‍රී ලංකාවේ ව්‍යවසායකත්ව දිරිගැන්වීම කරනු ලබන ආයතන **දෙකක්** නම් කරන්න.
   (ii) ව්‍යවසායකත්වයට එරෙහි වන සමාජීය සාධක **දෙකක්** සඳහන් කරන්න.
   (iii) කාන්තා ව්‍යවසායකත්වයට පවතින බාධක **දෙකක්** සඳහන් කරන්න.
   (iv) රටක ව්‍යවසායකත්ව සංස්කෘතියක් නිර්මාණය වීමේ අවශ්‍යතාව තහවුරු කරන කරුණු **හතරක්** ලියන්න.
   (v) රටක ව්‍යවසායකත්ව සංස්කෘතියක් නිර්මාණය කිරීමේ දී එහි ශ්‍රම බලකායට රැකියා සම්පාදනය කිරීම සඳහා පවතින විරැකියාවේ ස්වභාවය අධ්‍යයනය කළ යුතු ය. ශ්‍රී ලංකාවේ පවතින විරැකියාවේ ස්වභාවයන් **දෙකක්** සඳහන් කරන්න.

(ලකුණු 02 × 5 = 10 යි)



/අන්වැනි පිටුව බලන්න